ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# කතෝලික දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2016 (2017)

## (02) කතෝලික ජීවිත පැවැත්ම

පැ තුනයි

**I කොටසේ පළමුවන** හා දෙවන ප්‍රශ්න ද **II කොටසින් තෝරාගත් ප්‍රශ්න හතරක්** ද ඇතුළුව ප්‍රශ්න හයකට පමණක් පිළිතුරු සපයන්න.

**I කොටස** සඳහා පිළිතුරු **මෙම පත්‍රයේම** සපයා **II කොටසේ** පිළිතුරු පත්‍රය සමග එකට අමුණා ශාලාධිපතිට භාර දෙන්න.

**විභාග අංකය :**......................

### I කොටස

**1.** ප්‍රශ්න අංක **(i)** සිට **(x)** තෙක් එක් එක් ප්‍රශ්නයට දී ඇති වරණ හතර අතුරින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ පිළිතුර තෝරා ඊට අදාළ **අංකය**, ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

(i) ජන වන්දනාවේ කේන්ද්‍රය වනුයේ,

(1) දිව්‍ය සත්ප්‍රසාද ආශිර්වාදයයි. (2) ශුද්ධ වූ පැයයි.
(3) නොවාන පැවැත්වීමයි. (4) දිව්‍ය පූජාවයි. (.........)

(ii) ශුද්ධ වූ සභාවේ අති උතුම් පාරිශුද්ධ කාර්යයක් වන්නේ මින් කුමක් ද?

(1) කිතුනු ඒකක පිහිටුවීම
(2) දේව ජනතාව එක් රැස්කිරීම
(3) ජන වන්දනා (දේව වන්දනා) මෙහෙය පැවැත්වීම
(4) අසරණ අයට ආධාර වීම (.........)

(iii) සභාවේ මුල් යුගයේ දී ක්‍රිස්තියානින් විසින් දිව්‍ය සත්ප්‍රසාදය හඳුන්වනු ලැබුවේ

(1) ස්වාමීන් වහන්සේගේ භෝජනය යනුවෙනි.
(2) පූප කැඩීමේ පිළිවෙත යනුවෙනි.
(3) කුකිදීමේ පිළිවෙත යනුවෙනි.
(4) සහභාගිකමේ භෝජනය යනුවෙනි. (.........)

(iv) ජනතා සේවය සඳහා ස්ථාපිත දේව ප්‍රසාද නිධාන වනුයේ

(1) දිව්‍ය සත්ප්‍රසාදය හා පූජකවරයයි.
(2) පූජකවරය හා ආශිර්වාදකාර බන්ධනයයි.
(3) රෝගීන්ගේ ආලේපය හා පූජකවරයයි.
(4) ආශිර්වාදකාර බන්ධනය හා අභිවෘද්ධි ආලේපයයි. (.........)

(v) කතෝලික සභා ධර්මෝපදේශය 'පූජකවරය' යන්නෙහි අරුත පහදා දෙන්නට පාදක කරගන්නේ

(1) හේබ්‍රෙව්වරුනට ලියන ලද ලිපිය ය.
(2) කොලොස්සිවරුන්ට ලියන ලද ලිපිය ය.
(3) රෝමවරුන්ට ලියන ලද ලිපිය ය.
(4) තිමෝතියස්ට ලියන ලද ලිපිය ය. (.........)

[ 2 වැනි පිටුව බලන්න.

(x) ශුද්ධාත්මීය ක්‍රිස්තු දේහයේ හිස යනුවෙන් අදහස් කරනු ලබනුයේ
(1) මනුෂ්‍යයා ය.  (2) ක්‍රිස්තුන් වහන්සේ ය.
(3) මරිය වහන්සේ ය.  (4) ජුසේ තුමා ය.  (.........)

(ලකුණු 02 × 10 = 20 යි)

- ප්‍රශ්න සියල්ලට ම කෙටි පිළිතුරු සපයන්න.

**2.** (i) ක්‍රිස්තුන් වහන්සේ ශුද්ධ වූ සභාව අදියර තුනකින් ස්ථාපිත කළ සේක. එයින් දෙකක් ලියන්න.

(අ) ..........................................................................

(ආ) ..........................................................................

(ii) පුරුෂයා ද ස්ත්‍රිය ද වශයෙන් මනුෂ්‍යයන් මැවූ දෙවියන් වහන්සේ ඔවුනට ආසිරි පතමින් පැවසූ වාක්‍ය දෙකක් ලියන්න.

(අ) ..........................................................................

(ආ) ..........................................................................

(iii) ශු. ජොහාන් සුවිශේෂයේ සඳහන් ආලෝකය පිළිබඳ අදහස් දෙකක් ලියන්න.

(අ) ..........................................................................

(ආ) ..........................................................................

(iv) "දයාවන්තයෝ භාග්‍යවන්තයෝ ය." යන භාග්‍යය අනුශාර කරමින් කළ හැකි ක්‍රියා දෙකක් ලියන්න.

(අ) ..........................................................................

(ආ) ..........................................................................

(v) 'සාමය' විස්තර කරනු ලබන කරුණු දෙකක් ලියන්න.

(අ) ..........................................................................

(ආ) ..........................................................................

(vi) දේව රාජ්‍යය පිළිබඳ කියැවෙන උපමා දෙකක් සඳහන් කරන්න.

(අ) ..........................................................................

(ආ) ..........................................................................

(vii) ස්වභාවික බලවේග පාලනයට සහ නැවත ජීවිතය ලබා දීමට අදාළ ප්‍රාතිහාර්ය දෙකක් ලියන්න.

(අ) ..........................................................................

(ආ) ..........................................................................

(viii) තාපස පන්තිවලට ඇතුළත් වන්නන් පිළිපදින වෙද භාර දෙකක් ලියන්න.

(අ) ..........................................................................

(ආ) ..........................................................................

(ix) ප්‍රසාද ස්නාපනයෙන් අපට පැවරෙන කාර්යයන් දෙකක් ලියන්න.

(අ) ..........................................................................

(ආ) ..........................................................................

(x) මරණය හඳුන්වනු ලබන කරුණු දෙකක් ලියන්න.

(අ) ..........................................................................

(ආ) ..........................................................................

(ලකුණු 02 × 10 = 20 යි)

* *

[ 3 වැනි පිටුව බලන්න.





ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

## කතෝලික දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2016 (2017)

## (01) කතෝලික විශ්වාසය

ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.

### II කොටස

**3.** (i) දෙවියන් වහන්සේට ආවේණික වූ විශේෂ ලක්ෂණ පහක් සඳහන් කරන්න. (ලකුණු 05 යි)

(ii) ජීවිතයේ විවිධ සිදුවීම් මධ්‍යයේ මනුෂ්‍යයා දෙවියන් වහන්සේට කන්නලව් කරන අවස්ථා පහක් කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 10 යි)

**4.** (i) උත්පත්ති පළමු පරිච්ඡේදයේ සඳහන් වන දෙවියන් වහන්සේ විසින් මවන ලද දෑ පහක් සඳහන් කරන්න. (ලකුණු 05 යි)

(ii) ඔබ අද මැවිල්ල සුරකින අයුරු කරුණු පහකින් විස්තර කරන්න. (ලකුණු 10 යි)

**5.** (i) 'භාග්‍ය' පහක් සඳහන් කරන්න. (ලකුණු 05 යි)

(ii) බිඳුණු සිත් සුවපත් කර තිරසාර සාමය ඇති කිරීමට ඔබට දායක විය හැකි අවස්ථා පහක් විස්තර කරන්න. (ලකුණු 10 යි)

**6.** (i) ශු. මතෙව් සුවිශේෂයේ සඳහන් කන්දඋඩ දේශනයේ අඩංගු ප්‍රධාන තේමා පහක් සඳහන් කරන්න. (ලකුණු 05 යි)

(ii) කන්දඋඩ දේශනයේ ඔබ සඳහන් කළ තේමා ඔබේ ජීවිතයට ආදේශ කරගන්නා ආකාර පහක් විස්තර කරන්න. (ලකුණු 10 යි)

**7.** (i) 1 කොරින්ති 12 : 4-11 අනුව ශුද්ධාත්මයාණන්ගෙන් ලැබෙන දීමනා පහක් සඳහන් කරන්න. (ලකුණු 05 යි)

(ii) ඔබ සඳහන් කළ ශුද්ධාත්ම දීමනා එකින් එක ආධාරයෙන් තාරුණ්‍යයේ ගැටලු පහක් ජය ගත හැකි අයුරු කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 10 යි)

**8.** (i) ශු. පාවුලුතුමා රෝමවරුන්ට ලියූ හසුනේ 12 : 4 -21 හි සඳහන් දහම දෙසීම පිණිස ලැබී ඇති විවිධ කුසලතා පහක් සඳහන් කරන්න. (ලකුණු 05 යි)

(ii) ශු. සභාවේ වර්ධනය සඳහා ඔබේ විවිධ තලෙන්තු යොදා ගන්නා ආකාරය කරුණු පහකින් විස්තර කරන්න. (ලකුණු 10 යි)

**9.** (i) ගිහි ජනතාව සතු වගකීම් පහක් සඳහන් කරන්න. (ලකුණු 05 යි)

(ii) පැවිදි තත්ත්වයට හෝ පූජක ජීවිතයට ඇතුළත් වන්නට කැමති ඔබේ මිතුරකුට හෝ මිතුරියකට දිය හැකි අවවාද දහයක් ලියන්න. (ලකුණු 10යි)

* * *

(vi) පුරාණ ගිවිසුමේ මෙල්කිසදෙක් පූජකවරයා වැදගත් වන්නේ
   (1) ප්‍රථමවරට පූප සහ මිදිරස දෙවියන් වහන්සේට යාග කළ නිසා ය.
   (2) ගිවිසුම් කරඬුව ආරක්ෂා කළ නිසා ය.
   (3) පාතීය පූජාවක් ඔප්පු කළ නිසා ය.
   (4) නායක පූජකයකු ලෙස කටයුතු කළ නිසා ය. (.........)

(vii) දිව්‍ය පූජාවේ දේශනයට හිමි තැන දීමේ වැදගත්කම පෙන්වා දුන්නේ
   (1) නීසියානු මන්ත්‍රණ සභාවෙනි.
   (2) පළවෙනි වතිකාන මන්ත්‍රණ සභාවෙනි.
   (3) ත්‍රිදෙන්තීනු මන්ත්‍රණ සභාවෙනි.
   (4) දෙවෙනි වතිකාන මන්ත්‍රණ සභාවෙනි. (.........)

(viii) ක්‍රිස්තියානි ජීවිතය තුළ නිසි වර්ධනයක් වී ඵල දැරීමට නම් නිතර,
   (1) යහපත් ක්‍රියා කළ යුතු ය.
   (2) දේව ප්‍රසාද නිධාන ලබාගත යුතු ය.
   (3) මර්දන ක්‍රියා කළ යුතු ය.
   (4) යාච්ඤා කළ යුතු ය. (.........)

(ix) ජේසුස් වහන්සේගේ උත්ථානය නිසා සිදු වූ ප්‍රධානතම සිදුවීම නම්
   (1) ලෝකයට නව ජීවනයක් ලැබීම ය. (2) පාපය විනාශවීම ය.
   (3) මරණයේ බලය බිඳීයාම ය. (4) ස්වර්ග රාජ්‍යය විවෘත වීම ය. (.........)

(x) දෙවන ශතවර්ෂයේ ජීවත් වූ මෙම ප්‍රාණ පරිත්‍යාගීවරයා දිව්‍ය පූජාවේ දළ සැලැස්මක් ඉදිරිපත් කිරීමට වෙහෙස විය. මොහු කවුද?
   (1) ශු. තෝමස් ඇක්වයිනාස් තුමා (2) ශු. අගොස්තීනු මුනිතුමා
   (3) ශු. පාවුලු තුමා (4) ශු. ජස්ටින් තුමා (.........)

*(ලකුණු 02 × 10 = 20 යි)*

● ප්‍රශ්න සියල්ලට ම කෙටි පිළිතුරු සපයන්න.

**2.** (i) ජන වන්දනාවේ (දේව වන්දනාවේ) මූලික කොටස් දෙකක් නම් කරන්න.

(අ) ......................................................................

(ආ) ......................................................................

(ii) කතෝලික සභාව තුළ තේවාචාර්යවරයෙකුට පැවරෙන කාර්යයන් දෙකක් ලියන්න.

(අ) ......................................................................

(ආ) ......................................................................

(iii) නොමැකෙන සලකුණු සටහන් කරන දේව ප්‍රසාද නිධාන දෙකක් නම් කරන්න.

(අ) ......................................................................

(ආ) ......................................................................

(iv) දිව්‍ය පූජාවේ ඇති මූලික පිළිවෙත් දෙක නම් කරන්න.

(අ) ......................................................................

(ආ) ......................................................................

[ 3 වැනි පිටුව බලන්න.



(v) රෝම පිළිවෙතට අනුව අභිවෘද්ධි ආලේපයේ ප්‍රසාද නිධානය දානය කරනු ලබන්නේ කෙසේ ද?

......................................................................

......................................................................

(vi) ජේසුස් වහන්සේ පව් කමා කිරීමේ බලය අපෝස්තුළුවරුන්ට දානය කළේ කවදා ද?

......................................................................

(vii) ශුද්ධ වූ ලියවිල්ලට සවන්දීමෙන් හා කියවීමෙන් ලබා ගත හැකි ප්‍රයෝජන **දෙකක්** සඳහන් කරන්න.

(අ) ......................................................................

(ආ) ......................................................................

(viii) දිව්‍ය පූජා පිළිවෙතේ ඉතා වැදගත් හා උතුම් යාච්ඤාව කුමක් ද? එම යාච්ඤාව කියන අවස්ථාවේ දී කුමක් සිදු වන්නේ ද?

......................................................................

......................................................................

(ix) දෙවියන් වහන්සේ පව්කරුවනට අසීමිත ලෙස සමාව දානය කරන බව පෙන්වීමට ශු. ලූක් තුමා ඉදිරිපත් කරන උපමා කතා **දෙකක්** නම් කරන්න.

(අ) ......................................................................

(ආ) ......................................................................

(x) රෝගීන් ආලේප කිරීම ගැන ශු. ජාකොබ් තුමාගේ සංදේශයේ සඳහන් කරන්නේ කුමක් ද?

......................................................................

......................................................................

*(ලකුණු 02 × 10 = 20 යි)*

* *

[ 4 වැනි පිටුව බලන්න.

2341



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

## කතෝලික දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2016 (2017)

## (02) කතෝලික ජීවිත පැවැත්ම

ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.

### II කොටස

3. (i) දේව ප්‍රසාද නිධානයක් වීමට අත්‍යවශ්‍ය මූලික සාධක ගැන කෙටියෙන් විස්තර කරන්න. *(ලකුණු 05 යි)*
   (ii) දේව ප්‍රසාද නිධාන මගින් කිතුනුවාගේ ජීවිතයට සිදුවන බලපෑම පැහැදිලි කිරීමට කරුණු පහක් ඉදිරිපත් කරන්න. *(ලකුණු 10 යි)*

4. (i) "දිව්‍ය සත්ප්‍රසාදය ශුද්ධ වූ යාගයකි." මෙය පහදන්න. *(ලකුණු 05 යි)*
   (ii) ඉරුදින දිව්‍ය පූජාවට අර්ථාන්විත ව සහභාගිවීම සඳහා ඔබට කළ හැකි ක්‍රියාකාරකම් පහක් ලියන්න. *(ලකුණු 10 යි)*

5. (i) කතෝලික සභා ධර්මෝපදේශය පොත විවාහ ජීවිතය, දේව ජනතාව ගොඩ නැගීම සඳහා කෙලෙස වැදගත් වන්නේ දැයි පහදා දෙයි ද? *(ලකුණු 05 යි)*
   (ii) "සාර්ථක විවාහයක් සඳහා දෙදෙනාගේ ආදරය හා කැමැත්ත පමණක් නොව සභාව වෙතින් ලැබෙන මග පෙන්වීම් හා උපකාර ද ප්‍රයෝජනවත් ය." මෙය කරුණු පහක් මත කෙටියෙන් පැහැදිලි කරන්න. *(ලකුණු 10 යි)*

6. (i) රෝගීන්ගේ ආලේපය දේව ප්‍රසාද නිධානයෙන් ලැබෙන වරප්‍රසාද පහක් ලියන්න. *(ලකුණු 05 යි)*
   (ii) රෝගීන්ගේ ආලේපය නමැති ප්‍රසාද නිධානය දානය කිරීමේ පිළිවෙතේ දී සිදුවන ක්‍රියාකාරකම් පහක් විස්තර කරන්න. *(ලකුණු 10 යි)*

7. (i) උත්ථානය පිළිබඳ විශ්වාසයේ පරීක්ෂණයකට ලක් වූ තෝමස් ශ්‍රාවකයා හා සබැඳි සිද්ධිය ලියන්න. *(ලකුණු 05 යි)*
   (ii) ඔබගේ ජීවිතය තුළ විශ්වාසය අත්දුටු සිද්ධියක් ලියන්න. *(ලකුණු 10 යි)*

8. (i) සමගි සන්ධානය දේව ප්‍රසාද නිධානයෙන් ලැබෙන වරප්‍රසාද පහක් ලියන්න. *(ලකුණු 05 යි)*
   (ii) කමා නොවූ දාසයා පිළිබඳ උපමාව ලියා එයින් ලැබෙන පණිවුඩ දෙකක් ලියන්න. *(ලකුණු 10 යි)*

9. පහත සඳහන් මාතෘකා තුනකට කෙටි සටහන් ලියන්න. (එකකට පේළි පහක් පමණ සෑහේ.)
   (i) දිව්‍ය සත්ප්‍රසාදික ස්තෝත්‍ර ගීය
   (ii) දිව්‍ය පූජාවේ ඔප්පු කිරීමේ පිළිවෙත
   (iii) පරිණත කිතුනුභාවය
   (iv) රාජගුරු ප්‍රසාදිධූරය
   (v) කතෝලික සභා ධර්මෝපදේශය පෙන්වා දෙන තනිකඩ ජීවිතය

*(ලකුණු 05 × 3 = 15 යි)*

***

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# කතෝලික දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2016 (2017)

## (03) කතෝලික සදාචාරාත්මක ජීවිතය

පැ තුනයි

I කොටසේ පළමුවන හා දෙවන ප්‍රශ්න ද II කොටසින් තෝරාගත් ප්‍රශ්න හතරක් ද ඇතුළුව ප්‍රශ්න හයකට පමණක් පිළිතුරු සපයන්න.

I කොටස සඳහා පිළිතුරු මෙම පත්‍රයේම සපයා II කොටසේ පිළිතුරු පත්‍රය සමග එකට අමුණා ශාලාධිපතිට භාර දෙන්න.

විභාග අංකය :......................

### I කොටස

1. ප්‍රශ්න අංක (i) සිට (x) තෙක් එක් එක් ප්‍රශ්නයට දී ඇති වරණ හතර අතුරින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ පිළිතුර තෝරා ඊට අදාළ අංකය, ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

(i) මනුෂ්‍යයාගේ දියුණුවට අදාළ සමාජ සම්බන්ධකම් අතර ප්‍රධාන වන්නේ මින් කවරක් ද?
(1) තමා ජීවත්වන පරිසරය (2) තමා ලබා ඇති කුසලතා
(3) තමා ලබා ඇති අධ්‍යාපනය (4) තමාගේ පවුල් ජීවිත රටාව (.........)

(ii) "ස්වභාව ධර්මයේ ක්‍රියාපටිපාටිය .................. නික්මෙන නිසා එය පිවිතුරුය, යහපත් ය."
මෙහි හිස්තැනට සුදුසු වචනය කුමක් ද?
(1) ශුද්ධාත්මයාණන්ගෙන් (2) සාන්තුවරයන්ගෙන්
(3) දෙවියන් වහන්සේගෙන් (4) දේව මෑණියන්ගෙන් (.........)

(iii) සාරධර්ම මත පදනම් වූ සමාජයක ලක්ෂණ හැටියට රංජිත් ලියා තිබුණේ පහත දැක්වෙන කරුණු ය. ඒ අනුව නොගැලපෙන කරුණ වන්නේ කවරක් ද?
(1) සාධාරණය රජ කරයි
(2) තම අභිමතයට අනුව ජීවත්වීමට නිදහස ඇත
(3) සාමය පිරී පවතී
(4) යුක්තිගරුකව ක්‍රියා කරයි (.........)

(iv) මෙයින් ණය මංගල දිනයක් වන්නේ කුමක් ද?
(1) දේවමාතාවන්ගේ මාතෘත්වයේ මංගල්‍යය ය.
(2) දේවමාතාවන්ගේ උපන් මංගල්‍යය ය.
(3) දේවමාතාවන්ගේ නිර්මල හෘදයේ මංගල්‍යය ය.
(4) දේවමාතාවන් ලූර්දුවේ දර්ශනය වීමේ මංගල්‍යය ය. (.........)

(v) පේන කීම, අංජනම් බැලීම, හූනියම් කෙරෙහි විශ්වාස කරන තැනැත්තා
(1) පළමුවන දේව පනත කඩකරයි. (2) දෙවන දේව පනත කඩකරයි.
(3) තුන්වන දේව පනත කඩකරයි. (4) හත්වන දේව පනත කඩකරයි. (.........)

(vi) "නුඹේ පියාට ද, මවට ද, ගෞරවකරව! එවිට නුඹේ දෙවියන් වහන්සේ නුඹට දෙන රටේ බොහෝ කාලයක් ජීවත් වන්නෙහි ය." මේ උපුටනය ඇත්තේ,
(1) උත්පත්ති පොතේ ය. (2) නික්මයාම පොතේ ය.
(3) ද්විතීය නීති සංග්‍රහය පොතේ ය. (4) රාජාවලිය පොතේ ය. (.........)

(vii) ස්ත්‍රී පුරුෂයන් ද, වැන්දඹුවන් ද, කන්‍යාවන් ද පිළිපැදිය යුතු වෘත ශුද්ධිය ගැන කරුණු පහදා දෙන්නේ,

(1) ශු. අගෝස්තීනු මුනිතුමා ය. (2) ශු. තෝමස් ඇක්වයිනස් තුමා ය.
(3) ශු. අම්බ්‍රෝස් මුනිතුමා ය. (4) ශු. ප්‍රැන්සිස් මුනිතුමා ය. (.........)

(viii) යමෙක් නඩු කියා ඔබගේ කමිසය ගන්නට කැමැති වුවහොත් ඔහු හට තවත් දිය යුත්තේ කුමක් දැයි ජේසුස් වහන්සේ වදාළ සේක් ද?

(1) ඉඟපටිය වුව ද ලබා දෙන්න (2) කබාය වුවද ලබා දෙන්න
(3) අඳනය වුවද ලබා දෙන්න (4) උතුරු සළුවක් ගන්නට අවසර දෙන්න (.........)

(ix) නිමල් තම ගෙවත්ත අපිරිසිදුව තබා ගෙන ඩෙංගු මදුරුවන් බෝ වීමට ඉඩ සලසා ඇත. එමගින් ඔහු කඩ-කරන දේව පනත වන්නේ,

(1) පළමුවන දේව පනත (2) දෙවන දේව පනත
(3) හතරවන දේව පනත (4) පස්වන දේව පනත (.........)

(x) සිරිලක් කතෝලික සභාව මේ වර්ෂය කැප කර ඇත්තේ,

(1) ගෞරවනීය ජාකෝමේ ගොන්සාල්වේස් පියතුමාට ය.
(2) ගෞරවනීය තෝමස් කුරේ කාඩිනල්තුමාට ය.
(3) ශු. ජුසේ වාස් පියතුමාට ය.
(4) ගෞරවනීය එඩ්මන් පීරිස් රදගුරුතුමාට ය. (.........)

*(ලකුණු 02 × 10 = 20 යි)*

● ප්‍රශ්න සියල්ලට ම කෙටි පිළිතුරු සපයන්න.

2. (i) කිතුනු ධර්මයේ පදනම කුමක් ද?

.......................................................................................................................

.......................................................................................................................

(ii) ජනමාධ්‍යවේදීන්ගේ යුතුකම් දෙකක් ලියන්න.

(අ) .......................................................................................................................

(ආ) .......................................................................................................................

(iii) 13 වන ලියෝ පාප්තුමා විසින් සමාජ ධර්මය පිළිබඳ කිතුනු සභාවේ ඉගැන්වීම් ඉදිරිපත් කරමින් ලියූ විශ්ව ලේඛනයේ ඉගැන්වීම් දෙකක් ලියන්න.

(අ) .......................................................................................................................

(ආ) .......................................................................................................................

(iv) සාන්තුවරයනට අප ගෞරව දැක්විය යුත්තේ ඇයි?

.......................................................................................................................

.......................................................................................................................

(v) දෙවියන් වහන්සේ මවා ඇති සෑම මනුෂ්‍යයෙක් තුළ ම දේව ස්වරූපය ඇත. මෙයින් අදහස් කරන්නේ කුමක් ද?

.......................................................................................................................

.......................................................................................................................





(vi) අද සමාජය තුළ මානව ගරුත්වය විනාශ කරන බලවේග දෙකක් ලියන්න.

(අ) .......................................................................................................................

(ආ) .......................................................................................................................

(vii) පොදු නීතියට අවනතවීම සහ සභා පාලකයනට කීකරුවීම කිනම් දේව පනතට අනුකූල ද?

.......................................................................................................................

.......................................................................................................................

(viii) පුද්ගලයකු තුළ ඇති වන හැඟීම් මගින් ඇති වන ඵලයන් දෙකක් ලියන්න.

(අ) .......................................................................................................................

(ආ) .......................................................................................................................

(ix) ක්‍රියාකාරී ක්‍රිස්තියානි ජීවිතයට ආදේශ කරගත හැකි භාග්‍යය අට ඉදිරිපත් කර ඇති සුවිශේෂ ග්‍රන්ථ කතුවරයා කවුද?

.......................................................................................................................

(x) පුරාණ ගිවිසුමේ ජනතාව සබත් දිනය වැදගත් දිනයක් ලෙස සැලකීමට හේතු වූ කරුණු දෙකක් ලියන්න.

(අ) .......................................................................................................................

(ආ) .......................................................................................................................

*(ලකුණු 02 × 10 = 20 යි)*

**

2342



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

## කතෝලික දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2016 (2017)

## (03) කතෝලික සදාචාරාත්මක ජීවිතය

ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.

### II කොටස

3. (i) කන්දඋඩ දේශනය මගින් ක්‍රිස්තුන් වහන්සේ ඉගැන්වූ ඉගැන්වීම් පහක් ලියන්න. *(ලකුණු 05 යි)*
   (ii) හත්වැනි දේව පනතට අනුව ජීවත් වීම සඳහා ඔබ විසින් අනුගමනය කළ යුතු ප්‍රතිපත්ති පහක් ලියන්න. *(ලකුණු 10 යි)*

4. (i) ශ්‍රී ලාංකික ජනතාවට අවේණික වූ සාරධර්ම පහක් ලියන්න. *(ලකුණු 05 යි)*
   (ii) ක්‍රිස්තුන් වහන්සේ ඉගැන්වූ සමාජ සාරධර්ම පහක් පැහැදිලි කරන්න. *(ලකුණු 10 යි)*

5. (i) දෙවියන් වහන්සේ, මෝසෙස් තුමා මගින් දසපනත ලබාදීමේ අරමුණ පැහැදිලි කරන්න. *(ලකුණු 05 යි)*
   (ii) දසපනතට අනුව ජීවත්වීමේ දී ප්‍රේමයේ පනත් දෙක සම්පූර්ණ වන බව ශු. ලියවිල්ල ඇසුරෙන් වචන **100** කින් පමණ පැහැදිලි කරන්න. *(ලකුණු 10 යි)*

6. (i) පස්වැනි දේව පනතින් අවධාරණය කරන ඉගැන්වීම් පහක් ලියන්න. *(ලකුණු 05 යි)*
   (ii) අද ශ්‍රී ලංකාව තුළ සියදිවි නසා ගැනීම් බහුලව දක්නට ලැබේ. මෙවන් තත්ත්වයක් ඇතිවීමට බලපාන හේතු සාධක පහක් විස්තර කරන්න. *(ලකුණු 10 යි)*

7. (i) ඉරු දින දිව්‍ය පූජායාගයට ක්‍රියාකාරී ලෙස සහභාගි විය හැකි ආකාර පහක් ලියන්න. *(ලකුණු 05 යි)*
   (ii) ඉරු දින හා ඝෂ්‍ය මංගල්‍යය දිනවල ඇති වැදගත්කම අළලා කිතුනු පුවත්පතකට වචන **100** කින් පමණ ලිපියක් සකස් කරන්න. *(ලකුණු 10 යි)*

8. (i) ශු. ලූක් තුමා පෙන්වා දෙන පරිදි සැපතට හා විපතට හේතු වන කරුණු පහක් ලියන්න. *(ලකුණු 05 යි)*
   (ii) "පවුලේ සව්මත් සබඳතාව මුළු මහත් සමාජ සබඳතාවල පදනම වේ." වචන **100** කින් පමණ විස්තර කරන්න. *(ලකුණු 10 යි)*

9. පහත සඳහන් මාතෘකාවලින් තුනක් තෝරාගෙන එක් එක් මාතෘකාව ගැන පේළි පහක් පමණ වන සේ ලුහුඬු සටහන් ලියන්න.
   (i) හෘදය සාක්ෂිය
   (ii) දසවන දේව පනත
   (iiii) දන්දීමේ ප්‍රතිපත්තිය
   (iv) ළමා අපචාර පිටුදකිමු
   (v) ශාරීරික පුණ්‍යක්‍රියා

*(ලකුණු 05 × 3 = 15 යි)*

* * *

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# කතෝලික දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2016 (2017)

## (04) යාච්ඤාවේ ජීවිතය

පැ තුනයි

I කොටසේ පළමුවන හා දෙවන ප්‍රශ්න ද II කොටසින් තෝරාගත් ප්‍රශ්න හතරක් ද ඇතුළුව ප්‍රශ්න හයකට පමණක් පිළිතුරු සපයන්න.

I කොටස සඳහා පිළිතුරු මෙම පත්‍රයේම සපයා II කොටසේ පිළිතුරු පත්‍රය සමග එකට අමුණා ශාලාධිපතිට භාර දෙන්න.

විභාග අංකය : ..............................

### I කොටස

**1.** ප්‍රශ්න අංක (i) සිට (x) තෙක් එක් එක් ප්‍රශ්නයට දී ඇති වරණ හතර අතුරින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ පිළිතුර තෝරා ඊට අදාළ අංකය, ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

(i) යාච්ඤා කිරීම අපේ යුතුකමක් ද වන්නේ,
  (1) එය ක්‍රිස්තියානි ප්‍රතිපත්තියක් නිසා ය.
  (2) දෙවියන් වහන්සේ අපගේ ස්වාමියාණෝ නිසා ය.
  (3) යාච්ඤාව ජේසුස් වහන්සේ අපට ඉගැන් වූ නිසා ය.
  (4) සැමවිට ම දේව ප්‍රසංශාවට අප නැඹුරු විය යුතු නිසා ය. (.........)

(ii) කතෝලික සභා ධර්මෝපදේශය ප්‍රකාශ කරන අන්දමට දෙවියන් වහන්සේගේ කැඳවීමට අනුව ආබ්‍රහම් දුන් පිළිතුර යොමුවන්නේ,
  (1) හෘදයට අවධානය යොමුකිරීමක් ලෙසයි.
  (2) ඒක දේවවාදයට දුන් ගරුත්වයක් ලෙසයි.
  (3) දෙවියන් වහන්සේ කෙරෙහි ඇති විශ්වාසය ලෙසයි.
  (4) දේවාරාධනයට තම කැමැත්ත ප්‍රකාශ කිරීමක් ලෙසයි. (.........)

(iii) ආබ්‍රහම් අමුත්තකු ලෙස දෙවියන් වහන්සේ ව පිළිගන්නේ කවර ස්ථානයේ දී ද?
  (1) ෂෙකෙම්  (2) බෙයාර් ෂෙබා
  (3) ඌර්  (4) මාම්රේ (.........)

(iv) පුරාණ ගිවිසුමේ දෙවියන් වහන්සේ හා සමග ඉතා කිට්ටු සම්බන්ධතාවක් ඇතිකර ගත් පුද්ගලයෙක් ලෙස දැක්වීම නිවැරදි වන්නේ,
  (1) ජෝසප් ගැන සඳහන් කිරීම ය.  (2) ඊසාක් ගැන සඳහන් කිරීම ය.
  (3) මොසෙස් ගැන සඳහන් කිරීම ය.  (4) ජාකොබ් ගැන සඳහන් කිරීම ය. (.........)

(v) ජේසුස් වහන්සේ, දෙව්පියාණන්ට කළ යාච්ඤාවට දෙව්පියාණන් සවන්දුන්නේ,
  (1) උන්වහන්සේ තම ඒකජාතික පුත්‍රයා නිසා ය.
  (2) ඇඩී භාවනාත්මකව එය සිදු කළ නිසා ය.
  (3) ජේසු තුළ තිබූ දේවගරුත්වය නිසා ය.
  (4) එය සිත් බඳිනා ආකාරයෙන් ඉදිරිපත් වූ නිසා ය. (.........)

[ 2 වැනි පිටුව බලන්න.

(vi) දෙවියන් වහන්සේ අපට දුන් සියල්ලට ගරු බුහුමන් කරනු පිණිස අපි ක්‍රිස්තුන් වහන්සේ තුළින් ස්වාමි වූ දෙවිඳුන්ට 'ආමෙන්' කියන බව ශු.පාවුලු තුමා කුමන සංඝයට දන්වයි ද?

(1) පිලිප්පි සංඝයට (2) කොරින්ති සංඝයට
(3) රෝම සංඝයට (4) තෙසලෝනික සංඝයට (.........)

(vii) 'ශුද්ධ වූ පැය' නමැති භක්ති අභ්‍යාසය ලෝකයට හඳුන්වා දුන්නේ,

(1) සාන්ත තෙරේසා තුමිය විසින් ය.
(2) සාන්ත හෙලේනා තුමිය විසින් ය.
(3) සාන්ත මරිය ගොරොත්ති තුමිය විසින් ය.
(4) සාන්ත මාර්ගරිතා මරිය තුමිය විසින් ය. (.........)

(viii) සාන්ත සභාවේ 'මුල්ම නුවානය' පැවැත්වීම පිළිබඳව සඳහන් වන්නේ,

(1) අපෝස්තුලිවරුන්ගේ යුගයේ ය.
(2) සභාපියවර යුගයේ ය.
(3) දිවැසිවර යුගයේ ය.
(4) මුල්පීඩන සමයේ ජීවත් වූ සැදැහැවතුන්ගේ යුගයේ ය. (.........)

(ix) කතෝලික සභාව හා රෙපරමාදු සභාව විසින් පවත්වන දිව්‍ය පූජා පිළිවෙතට ඇතුළත් කර ඇති යාච්ඤාව වන්නේ,

(1) විශ්වාස ලක්‍ෂණයයි. (2) පව්කමා කිරීමේ යැදුමයි.
(3) සාමයේ යැදුමයි. (4) ස්වාමිවාක් ආරාධනා යැදුමයි. (.........)

(x) දෙවියන් වහන්සේ ශුද්ධ වූ මණ්ඩපයේ වැඩ සිටින්නාක් මෙන් ධර්මිෂ්ඨ වූ අයගේ හෘදයන් තුළත් වැඩ සිටින බව අපට පවසන්නේ,

(1) සාන්ත අම්බ්‍රෝස් තුමා
(2) සාන්ත ඇක්වයිනාස් තුමා
(3) සාන්ත අගෝස්තිනු තුමා
(4) සාන්ත ජෙරම් තුමා (.........)

*(ලකුණු 02 × 10 = 20 යි)*

● ප්‍රශ්න සියල්ලට ම කෙටි පිළිතුරු සපයන්න.

**2.** (i) ක්‍රිස්තියානි යාච්ඤා සියල්ල දෙස බැලීමේ දී දෙවියන් වහන්සේ කෙරෙහි යොමුවිය යුතු පොදු ආකල්ප හතරෙන් දෙකක් ලියන්න.

(අ) ..............................

(ආ) ..............................

(ii) ක්‍රිස්තුන් වහන්සේ තමන් වහන්සේගේ ජීවිතයේ විශේෂ අන්දමින් යාච්ඤා කළ අවස්ථා දෙකක් ලියන්න.

(අ) ..............................

(ආ) ..............................

(iii) කතෝලික සභා ධර්මෝපදේශය අපට පෙන්වා දෙන ආකාරයට අපේ යාච්ඤා කෙසේ විය යුතු දැයි කෙටියෙන් ලියන්න.

..............................

..............................

(iv) හදවතින් කරන යාච්ඤාව යනු කුමක් දැයි කෙටියෙන් ලියන්න.

..............................

..............................





(v) ක්‍රිස්තුන් වහන්සේ තම දුක්ප්‍රාප්තියේ දී දෙවිඳුන්ට කළ යාච්ඤා පිළිබඳව හෙබ්‍රෙව් හසුනේ (5/7) සඳහන් වී ඇත්තේ කෙසේ ද?

..............................

..............................

(vi) රෝම ලිපියට අනුව (8/26) යාච්ඤා කිරීමේ දී ඇතිවන දුෂ්කරතා පිළිබඳ වූවමනාවට වඩා අපි කරදර නොවිය යුතු බව සඳහන් කර ඇත්තේ මන් ද?

..............................

..............................

(vii) දේවස්ථානවල වාර්ෂික මංගල්‍යයට සූදානමක් වශයෙන් නුවාන පවත්වනු ලැබීමේ අරමුණු දෙකක් ලියන්න.

(අ) ..............................

(ආ) ..............................

(viii) ශුද්ධ වූ ජපමාලය උච්චාරණයේ දී අප මෝක්ෂ අභිරහස තුළින් මෙනෙහි කරන ජේසු සමිඳුන්ගේ අති සුවිශේෂ වූ අවස්ථා දෙක ලියන්න.

(අ) ..............................

(ආ) ..............................

(ix) ස්වාමිවාක් ආරාධනාව තුළ අප උච්චාරණය කරන සමාව දීම පිළිබඳ ක්‍රියාවෙන් නිවැරදි ව කටයුතු නොකරන්නේ නම්, දේව අභිමතය කුමක් වේ දැයි ශුද්ධ වූ මතෙව් තුමා (18/35) කෙසේ සඳහන් කරයි ද?

..............................

..............................

(x) දෙවියන් වහන්සේ අපට ලබා දුන් සියලු පොරොන්දු ඉටු කරන බව ශුද්ධ වූ පාවුලු තුමා කොරින්ති සංඝයට (2 කොරින්ති 1/19 - 20) කෙසේ සඳහන් කර දක්වයි ද?

..............................

..............................

*(ලකුණු 02 × 10 = 20 යි)*

* *

2342



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

## කතෝලික දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2016 (2017)

## (04) යාච්ඤාවේ ජීවිතය

ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.

### II කොටස

**3.** (i) "නොකඩවා යාච්ඤා කර දෙවිඳුන්ට තුති පුදන්න"යි ශු. පාවුලු තුමා කොලොස්සි (1/3) සංඝයට දන්වන්නේ කුමක් නිසා දැයි කෙටියෙන් ලියන්න. *(ලකුණු 05 යි)*

(ii) "ආබ්‍රහම් තුමාගේ ජීවිතය, යාච්ඤා ජීවිතයට හොඳ උදාහරණයකි." යන ශීර්ෂය යටතේ වචන **100** ක පමණ රචනයක් ලියන්න. *(ලකුණු 10 යි)*

**4.** (i) අප දෙවිඳුන්ට කරන යාච්ඤා සඵල වීමට නම්, අප සිහි කළ යුතු පිරිස් කවුරුන් දැයි කෙටියෙන් විස්තර කරන්න. *(ලකුණු 05 යි)*

(ii) අපගේ අවශ්‍යතා සඳහා දෙවිඳුන් යැදීමේ දී දේවකැමැත්තට අවනතවීම වැදගත් බව ඔබ පහදා දෙන්නේ කෙසේ ද? *(ලකුණු 10 යි)*

**5.** (i) ජේසුස් වහන්සේ යාච්ඤා කළ අවස්ථා කිහිපයක් පහත වගුවේ දක්වා ඇත. ශු. ලූක් තුමා එම අවස්ථා කුමන සිදුවීම් කරුණු කොට ද යන්න පහදා ඇත. ඒ අනුව වගුව පිටපත් කරගෙන හිස්තැන් සම්පූර්ණ කරන්න.

| සුවිශේෂ පාඨ | අවස්ථාව | සිදුවීම |
|---|---|---|
| 1. ශු. ලූක් 3/21 | ජීවිතයේ ආරම්භයේ දී | බෞතිස්ම ලැබීමේ දී |
| 2. ශු. ලූක් 5/16 | දූත කාර්යයේ දී | .................... |
| 3. ශු. ලූක් 6/12 | වගකීම් පැවරීමේ දී | .................... |
| 4. ශු. ලූක් 9/28 | දේව මහිමය ප්‍රකාශ කිරීමේ දී | .................... |
| 5. ශු. ලූක් 11/1 | දේව ආදරය දැක්වීමේ දී | .................... |
| 6. ශු. ලූක් 23/46 | ජීවිත පූජාවේ දී | .................... |

*(ලකුණු 05 යි)*

(ii) "ගීතාවලිය, පුරාණ ගිවිසුමේ ශ්‍රේෂ්ඨතම කෘතියක් වේ." යන ශීර්ෂය යටතේ වචන **100** ක පමණ රචනයක් ලියන්න. *(ලකුණු 10 යි)*

**6.** (i) යාච්ඤා අතුරින් ඉතා උතුම් යාච්ඤාවේ දක්නට ලැබෙන මූලික ලක්ෂණ පහ ලියන්න. *(ලකුණු 05 යි)*

(ii) "පවුල් ජපමාලය උච්චාරණය තුළින් කිතුනු පවුල ලබන පන්නරය කියා නිම කළ නොහැකි ය." යන ශීර්ෂය යටතේ සඟරාවකට වචන **100** කින් පමණ ලිපියක් ලියන්න. *(ලකුණු 10 යි)*

**7.** (i) ප්‍රධානම ජනවන්දනා මෙහෙය වන දිව්‍ය පූජාවේ පවත්වන ආරම්භක පිළිවෙතට ඇතුල්වන ප්‍රධාන අංග පහක් නම් කරන්න. *(ලකුණු 05 යි)*

(ii) "මිනිසා ජීවත්වන්නේ කෑමෙන් පමණක් නොව දෙවියන් වහන්සේගේ මුවින් නික්මෙන වචනවලින් ය." (ශු. මතෙව් 4/4) මෙම ශීර්ෂය යටතේ වචන **100** ක පමණ රචනයක් ලියන්න. *(ලකුණු 10 යි)*

**8.** (i) ශුද්ධ වූ දෙවන ජුවාම් පාවුලු මුනිතුමන් විසින් ජපමාල උච්චාරණය සඳහා හඳුන්වා දුන් අභිරහසට අයත් කොටස් පහ නම් කරන්න. *(ලකුණු 05 යි)*

(ii) "ඔබගේ රාජ්‍යය පැමිණේවා" කියා ස්වාමිවාක් ආරාධනාවේ උච්චාරණය වන කොටසින් ගම්‍යවන කරුණු විස්තර කරන්න. *(ලකුණු 10 යි)*

**9.** පහත සඳහන් මාතෘකා අතුරින් තුනක් තෝරාගෙන ඒවා කෙටියෙන් විස්තර කර ලියන්න.

(i) සහජීවිතය තුළ යාච්ඤාව (ii) මැදහත් යැදුම
(iii) වාචික යැදුම (යාච්ඤාව) (iv) "ඔබගේ ශ්‍රී නාමයට ප්‍රශංසා වේවා."

*(ලකුණු 05 × 3 = 15 යි)*

* * *